

# අ.පො.ස (සා.පෙළ) විභාගය - 2015

# ඇගයීම් වාර්තාව

# 34 - විද්‍යාව




පර්යේෂණ හා සංවර්ධන ශාඛාව,
ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව,
ජාතික ඇගයීම් හා පරීක්ෂණ සේවාව.

# අ.පො.ස.(සා.පෙළ) විභාගය - 2015

# ඇගයීම් වාර්තාව

# 34 - විද්‍යාව




පර්යේෂණ හා සංවර්ධන ශාඛාව
ජාතික ඇගයීම් හා පරීක්ෂණ සේවාව,
ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව.

**සියලු ම හිමිකම් ඇවිරිණි.**

**විද්‍යාව**

ඇගයීම් වාර්තාව - අ.පො.ස.(සා.පෙළ) විභාගය - 2015

**මූල්‍ය අනුග්‍රහය**

අනාගත දැනුම් කේන්ද්‍රීය පදනම ලෙස පාසල් පද්ධතිය ප්‍රතිනිර්මාණය කිරීමේ ව්‍යාපෘතිය (TSEP-WB) මගිනි.

# හැඳින්වීම

ශ්‍රී ලංකාවේ ප්‍රසිද්ධ විභාග අතුරින් වැඩි ම අයදුම්කරුවන් සංඛ්‍යාවක් පෙනී සිටින්නේ අ.පො.ස.(සා.පෙළ) විභාගය සඳහා ය. ජාතික මට්ටමින් පැවැත්වෙන මෙම විභාගයේ ප්‍රතිඵල මත නිකුත් කෙරෙන සහතිකය, උසස් අධ්‍යාපනය සඳහා සුදුස්සන් තෝරා ගැනීමට පමණක් නොව මධ්‍යම මට්ටමේ රැකියා අවස්ථා ලබාගැනීමට ද ජාතික හා ජාත්‍යන්තර විශ්වවිද්‍යාලවල සමහර පාඨමාලා හැදෑරීමට මූලික සුදුසුකමක් ලෙස සැලකෙන මිනුම් දණ්ඩක් වශයෙන් ද පිළිගැනේ. මෙලෙස පිළිගැනෙන්නේ මෙම විභාගයේ ඇති වලංගුතාව හා විශ්වසනීයතාව මෙන් ම ඉහළ ගුණාත්මක බව ද හේතුවෙනි.

මෙම විභාගයෙන් උසස් සාධන මට්ටමක් ලබා ගැනීම සඳහා සිසුහු ද ඔවුන්ගේ එම අපේක්ෂා සපුරාලීම සඳහා ගුරුවරු හා දෙමව්පියෝ ද ඇඩි වෙහෙසක් දරති. මෙම ඇගයීම් වාර්තාව සකස්කර ඇත්තේ ඔවුන්ගේ එම අපේක්ෂා ඉටුකරගැනීම පිණිස ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුවේ සහාය දීමක් වශයෙනි. මෙම ඇගයීම් වාර්තාවේ ඇතුළත් තොරතුරු විභාග අපේක්ෂකයින්ට, ගුරු භවතුන්ට, විදුහල්පතිවරුන්ට, ගුරු උපදේශක මහත්ම මහත්මීන්ට, විෂයභාර අධ්‍යක්ෂවරුන්ට, දෙගුරුන්ට හා අධ්‍යාපන පර්යේෂකයින්ට එක සේ ප්‍රයෝජනවත් වනු නොඅනුමාන ය. මේ නිසා මෙම වාර්තාව වැඩි පිරිසකගේ පරිශීලනය සඳහා පුස්තකාලයට යොමු කිරීම වඩාත් සුදුසු වේ.

මෙම ඇගයීම් වාර්තාව කොටස් තුනකින් යුක්ත වන අතර විෂය අභිමතාර්ථ සහ විෂය සාධනය පිළිබඳ සංඛ්‍යානමය තොරතුරු ද මෙම විෂයයෙහි ප්‍රශ්න පත්‍ර ඇසුරෙන් අයදුම්කරුවන්ගේ සාධනය, එක් එක් ප්‍රශ්නය සඳහා වෙන් වෙන්ව ද මෙහි I කොටසෙහි ඇතුළත් වේ. ඇගයීම් හා පරීක්ෂණ ක්ෂේත්‍රයේ භාවිත වන සම්භාව්‍ය පරීක්ෂණ න්‍යාය (Classical Test Theory) සහ අයිතම ප්‍රතිචාර න්‍යාය (Item Response Theory) පදනම් කරගෙන, විභාග දෙපාර්තමේන්තුවේ පර්යේෂණ හා සංවර්ධන ශාඛාව මඟින් මෙම විශ්ලේෂණ සිදුකර ඇත,

විද්‍යාව විෂයයෙහි I හා II ප්‍රශ්න පත්‍ර සඳහා අපේක්ෂිත පිළිතුරු, ලකුණු දීමේ පටිපාටි, පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ, නිගමන හා ප්‍රතිපෝෂණය සඳහා වූ යෝජනාවලින් මෙම වාර්තාවෙහි II කොටස සමන්විත වේ.

ප්‍රශ්න පත්‍රවල එක් එක් ප්‍රශ්නයට පිළිතුරු සැපයීමේ දී අපේක්ෂකයන් සැලකිලිමත් විය යුතු කරුණු ද ඉගෙනුම් ඉගැන්වීම් කාර්යය පිළිබඳ අදහස් හා යෝජනා ද මෙම වාර්තාවෙහි III කොටසෙහි ඇතුළත් කර ඇත. විවිධ නිපුණතා හා එම නිපුණතා මට්ටම්වලට ළඟාවීම සඳහා ඉගෙනුම් හා ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය කරගත යුතු ආකාරය පිළිබඳ ව මෙයින් මහත් පිටිවහලක් ලැබෙනු ඇතැයි සිතමි.

මෙම වාර්තාවේ ගුණාත්මක බව වැඩි දියුණු කිරීම සඳහා ඵලදායී අදහස් හා යෝජනා අප වෙත යොමුකරන ලෙස ඉල්ලමි. මෙම වාර්තාව සකස් කිරීම සඳහා කැප වූ පාලක පරීක්ෂකවරුන් ඇතුළු සම්පත් දායකයින්ටත් RD ආකෘති මඟින් තොරතුරු සැපයූ ප්‍රධාන/අතිරේක ප්‍රධාන/සහකාර පරීක්ෂකවරුන්ටත් ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුවේ නිලධාරීන් ඇතුළු කාර්ය මණ්ඩලයේ සියලු ම දෙනාටත් මාගේ හෘදයංගම ස්තුතිය පළ කරමි.

ඩබ්ලිව්.එම්.එන්.ජේ. පුෂ්පකුමාර
විභාග කොමසාරිස් ජනරාල්

2016 නොවැම්බර් 30
පර්යේෂණ හා සංවර්ධන ශාඛාව,
ජාතික ඇගයීම් හා පරීක්ෂණ සේවාව,
ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව,
පැලවත්ත,
බත්තරමුල්ල.

| | | |
|---|---|---|
| **උපදේශකත්වය** | : | ඩබ්ලිව්.එම්.එන්.ජේ. පුෂ්පකුමාර<br>විභාග කොමසාරිස් ජනරාල් |
| **මෙහෙයවීම හා සංවිධානය** | : | ගයාත්‍රි අබේගුණසේකර<br>විභාග කොමසාරිස්<br>(පර්යේෂණ හා සංවර්ධන) |
| **සම්බන්ධීකරණය** | : | මනෝමි සෙනෙවිරත්න<br>සහකාර විභාග කොමසාරිස් |
| **සංස්කරණය** | : | එච්.එස්.කේ. විජයතිලක<br>අධ්‍යාපන පරිපාලන සේවය I (විශ්‍රාමික)<br><br>ඩබ්ලිව්.ඒ.ඩී. රත්නසූරිය<br>ප්‍රධාන ව්‍යාපෘති නිලධාරී (විශ්‍රාමික) |
| **සැකසුම් කමිටුව** | : | එස්.එල්. නෙළුම් විජේසිරි<br>ගුරු උපදේශක (විද්‍යා)<br>කලාප අධ්‍යාපන කාර්යාලය,<br>ශ්‍රී ජයවර්ධනපුර<br><br>එස්.ආර්. ගාමිණී<br>ශ්‍රී ලංකා ගුරු සේවය I<br>ඇඹිලිපිටිය ම.වි.,<br>ඇඹිලිපිටිය<br><br>එස්.පී. ඉන්ද්‍රාකාන්ති<br>ශ්‍රී ලංකා ගුරු සේවය I<br>හ/දෙබරවැව ජාතික පාසල,<br>තිස්සමහාරාමය<br><br>ආර්.ඒ.පී.ජේ. රූපසිංහ<br>ශ්‍රී ලංකා ගුරු සේවය I<br>කො/ඩී.එස්. සේනානායක විද්‍යාලය,<br>කොළඹ 7<br><br>කේ.පී.කේ. පෙරේරා<br>ශ්‍රී ලංකා ගුරු සේවය I<br>බප/හෝ/වැවිට මෛත්‍රී මහා විද්‍යාලය,<br>වැවිට බණ්ඩාරගම |
| **පරිගණක පිටපත සැකසුම** | : | කේ.පී.ඩී. අනුෂා මදුවන්ති දිසානායක<br>තොරතුරු හා සන්නිවේදන තාක්ෂණ සහකාර |
| **පිටකවරය සැකසුම** | : | වයි.එස්. අනුරාධි<br>සංවර්ධන නිලධාරී |

# ඇතුළත පිටු

පිටු අංකය

## I කොටස



## II කොටස



## III කොටස

# I කොටස

## 1. විෂය අභිමතාර්ථ හා විෂය සාධනය පිළිබඳ තොරතුරු

### 1.1 විෂය අභිමතාර්ථ

මෙම පාඨමාලාව හැදෑරීමෙන් ශිෂ්‍යයා,

* ආස්වාදජනක ඉගෙනුම් පරිසරයක් මගින් විද්‍යාත්මක සංකල්ප හා මූලධර්ම ක්‍රමානුකූල ව ගොඩනගා ගනියි.
* විද්‍යාවේ ක්‍රියාවලි හා විද්‍යාත්මක ක්‍රමය උචිත අයුරින් යොදා ගනිමින් ගැටලු විසඳීමට අවශ්‍ය නිපුණතා වර්ධනය කර ගනියි.
* පරිසර සම්පත්වල විභව්‍යතා අවබෝධ කර ගනිමින් එම සම්පත් ප්‍රඥාගෝචර ව කළමනාකරණය කිරීමට අවශ්‍ය නිපුණතා වර්ධනය කර ගනියි.
* ශාරීරික හා මානසික වශයෙන් සෞඛ්‍ය සම්පන්න ජීවන රටාවක් සඳහා විද්‍යා ඥානය යොදා ගැනීමට අදාළ නිපුණතා වර්ධනය කර ගනියි.
* දේශයේ සංවර්ධනයට දායක විය හැකි සාර්ථක පුරවැසියකු ලෙස සාමූහික ව ජීවත් වීම සඳහා ද වැඩිදුර අධ්‍යාපනය හා අනාගත රැකියා සඳහා අවශ්‍ය නිපුණතා වර්ධනය කර ගනියි.
* ස්වභාවික සංසිද්ධි හා විශ්වය පිළිබඳ විද්‍යාත්මක පදනම අවබෝධ කර ගැනීමට අවශ්‍ය නිපුණතා වර්ධනය කර ගනියි.
* බලය හා ශක්තිය භාවිතයේ දී ඵලදායීතාව හා කාර්යක්ෂමතාව ප්‍රශස්ත මට්ටමකට වර්ධනය කර ගැනීම සඳහා උචිත තාක්ෂණය යොදා ගැනීමට උත්සුක වෙයි.
* විද්‍යාවේ ගතික ස්වභාවය සහ සීමාවන් හඳුනා ගෙන එදිනෙදා ජීවිතයේ අත්විඳින සිදුවීම් සහ විවිධ මාධ්‍ය ඔස්සේ ලැබෙන තොරතුරු විද්‍යාත්මක නිර්ණායක අනුව ඇගයීමේ කුසලතා වර්ධනය කර ගනියි.

## 1.2 විෂය සාධනය පිළිබඳ සංඛ්‍යානමය තොරතුරු

### 1.2.1 විෂය සඳහා පෙනී සිටි අයදුම්කරුවන් සංඛ්‍යාව

| මාධ්‍යය | පාසල් | පෞද්ගලික | එකතුව |
|---|---|---|---|
| සිංහල | 223140 | 6579 | 229719 |
| දෙමළ | 66441 | 16272 | 82717 |
| ඉංග්‍රීසි | 9924 | 4728 | 14652 |
| **එකතුව** | **299505** | **27579** | **327084** |

වගුව 1

### 1.2.2 අයදුම්කරුවන් ශ්‍රේණි ලබාගෙන ඇති ආකාරය

| ශ්‍රේණිය | පාසල් අයදුම්කරුවන් | | පෞද්ගලික අයදුම්කරුවන් | | එකතුව | ප්‍රතිශතය |
|---|---|---|---|---|---|---|
| | සංඛ්‍යාව | ප්‍රතිශතය | සංඛ්‍යාව | ප්‍රතිශතය | | |
| A | 24308 | 8.12 | 589 | 2.14 | 24897 | 7.61 |
| B | 21249 | 7.09 | 1010 | 3.66 | 22259 | 6.81 |
| C | 51049 | 17.04 | 3454 | 12.52 | 54503 | 16.66 |
| S | 100605 | 33.59 | 8523 | 30.9 | 109128 | 33.36 |
| W | 102294 | 34.15 | 14003 | 50.77 | 116297 | 35.56 |
| එකතුව | **299505** | **100.00** | **27579** | **100.00** | **327084** | **100.00** |

වගුව 2

### 1.2.3 ප්‍රථම වරට පෙනීසිටි පාසල් අයදුම්කරුවන් ශ්‍රේණි ලබාගෙන ඇති ආකාරය - දිස්ත්‍රික්ක අනුව

| දිස්ත්‍රික්කය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | දුර්වල (W) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 1. කොළඹ | 31052 | 5107 | 16.45 | 3170 | 10.21 | 6148 | 19.80 | 8834 | 28.45 | 23259 | 74.90 | 7793 | 25.10 |
| 2. ගම්පහ | 26639 | 2561 | 9.61 | 2077 | 7.80 | 4845 | 18.19 | 8775 | 32.94 | 18258 | 68.54 | 8381 | 31.46 |
| 3. කළුතර | 15246 | 1347 | 8.84 | 1209 | 7.93 | 2989 | 19.61 | 4878 | 32.00 | 10423 | 68.37 | 4823 | 31.63 |
| 4. මහනුවර | 18782 | 1764 | 9.39 | 1519 | 8.09 | 3563 | 18.97 | 6186 | 32.94 | 13032 | 69.39 | 5750 | 30.61 |
| 5. මාතලේ | 6406 | 410 | 6.40 | 457 | 7.13 | 1017 | 15.88 | 2193 | 34.23 | 4077 | 63.64 | 2329 | 36.36 |
| 6. නුවරඑළිය | 9415 | 408 | 4.33 | 472 | 5.01 | 1352 | 14.36 | 3278 | 34.82 | 5510 | 58.52 | 3905 | 41.48 |
| 7. ගාල්ල | 14919 | 1695 | 11.36 | 1300 | 8.71 | 2914 | 19.53 | 5055 | 33.88 | 10964 | 73.49 | 3955 | 26.51 |
| 8. මාතර | 11344 | 1234 | 10.88 | 1028 | 9.06 | 2354 | 20.75 | 3725 | 32.84 | 8341 | 73.53 | 3003 | 26.47 |
| 9. හම්බන්තොට | 8492 | 742 | 8.74 | 765 | 9.01 | 1911 | 22.50 | 2996 | 35.28 | 6414 | 75.53 | 2078 | 24.47 |
| 10. යාපනය | 9767 | 780 | 7.99 | 744 | 7.62 | 1534 | 15.71 | 2822 | 28.89 | 5880 | 60.20 | 3887 | 39.80 |
| 11. කිලිනොච්චි | 2177 | 67 | 3.08 | 85 | 3.90 | 242 | 11.12 | 622 | 28.57 | 1016 | 46.67 | 1161 | 53.33 |
| 12. මන්නාරම | 1639 | 77 | 4.70 | 76 | 4.64 | 248 | 15.13 | 614 | 37.46 | 1015 | 61.93 | 624 | 38.07 |
| 13. වව්නියාව | 2533 | 164 | 6.47 | 160 | 6.32 | 360 | 14.21 | 782 | 30.87 | 1466 | 57.88 | 1067 | 42.12 |
| 14. මුලතිව් | 1617 | 56 | 3.46 | 67 | 4.14 | 191 | 11.81 | 515 | 31.85 | 829 | 51.27 | 788 | 48.73 |
| 15. මඩකලපුව | 7165 | 539 | 7.52 | 459 | 6.41 | 1165 | 16.26 | 2341 | 32.67 | 4504 | 62.86 | 2661 | 37.14 |
| 16. අම්පාර | 8858 | 667 | 7.53 | 736 | 8.31 | 1778 | 20.07 | 3189 | 36.00 | 6370 | 71.91 | 2488 | 28.09 |
| 17. ත්‍රිකුණාමලය | 5649 | 299 | 5.29 | 317 | 5.61 | 1045 | 18.50 | 1929 | 34.15 | 3590 | 63.55 | 2059 | 36.45 |
| 18. කුරුණෑගල | 21704 | 1734 | 7.99 | 1643 | 7.57 | 3929 | 18.10 | 7666 | 35.32 | 14972 | 68.98 | 6732 | 31.02 |
| 19. පුත්තලම | 9989 | 653 | 6.54 | 639 | 6.40 | 1496 | 14.98 | 3327 | 33.31 | 6115 | 61.22 | 3874 | 38.78 |
| 20. අනුරාධපුරය | 11530 | 727 | 6.31 | 744 | 6.45 | 2046 | 17.75 | 4176 | 36.22 | 7693 | 66.72 | 3837 | 33.28 |
| 21. පොළොන්නරුව | 5001 | 241 | 4.82 | 323 | 6.46 | 857 | 17.14 | 1709 | 34.17 | 3130 | 62.59 | 1871 | 37.41 |
| 22. බදුල්ල | 12023 | 743 | 6.18 | 758 | 6.30 | 2088 | 17.37 | 4279 | 35.59 | 7868 | 65.44 | 4155 | 34.56 |
| 23. මොණරාගල | 6178 | 316 | 5.11 | 374 | 6.05 | 1071 | 17.34 | 2165 | 35.04 | 3926 | 63.55 | 2252 | 36.45 |
| 24. රත්නපුරය | 13753 | 1070 | 7.78 | 1056 | 7.68 | 2489 | 18.10 | 4592 | 33.39 | 9207 | 66.95 | 4546 | 33.05 |
| 25. කෑගල්ල | 10987 | 869 | 7.91 | 894 | 8.14 | 2146 | 19.53 | 3826 | 34.82 | 7735 | 70.40 | 3252 | 29.60 |
| **සමස්ත දිවයින** | **272865** | **24270** | **8.89** | **21072** | **7.72** | **49778** | **18.24** | **90474** | **33.16** | **185594** | **68.02** | **87271** | **31.98** |

වගුව 3

**1.2.4** ප්‍රථම වරට පෙනී සිටි පාසල් අයදුම්කරුවන් ශ්‍රේණි ලබාගෙන ඇති ආකාරය - අධ්‍යාපන කලාප අනුව

| අධ්‍යාපන කලාපය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | දුර්වල (W) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 1. කොළඹ | 14458 | 3569 | 24.69 | 1672 | 11.56 | 2673 | 18.49 | 3215 | 22.24 | 11129 | 76.97 | 3329 | 23.03 |
| 2. හෝමාගම | 3587 | 198 | 5.52 | 200 | 5.58 | 601 | 16.75 | 1260 | 35.13 | 2259 | 62.98 | 1328 | 37.02 |
| 3. ශ්‍රී ජයවර්ධනපුර | 7253 | 739 | 10.19 | 703 | 9.69 | 1663 | 22.93 | 2540 | 35.02 | 5645 | 77.83 | 1608 | 22.17 |
| 4. පිළියන්දල | 5754 | 612 | 10.64 | 595 | 10.34 | 1202 | 20.89 | 1833 | 31.86 | 4242 | 73.72 | 1512 | 26.28 |
| 5. ගම්පහ | 7539 | 1196 | 15.86 | 768 | 10.19 | 1422 | 18.86 | 2252 | 29.87 | 5638 | 74.78 | 1901 | 25.22 |
| 6 මිනුවන්ගොඩ | 5080 | 309 | 6.08 | 363 | 7.15 | 902 | 17.76 | 1813 | 35.69 | 3387 | 66.67 | 1693 | 33.33 |
| 7. මීගමුව | 6963 | 556 | 7.99 | 464 | 6.66 | 1194 | 17.15 | 2304 | 33.09 | 4518 | 64.89 | 2445 | 35.11 |
| 8. කැලණිය | 7057 | 508 | 7.2 | 478 | 6.77 | 1325 | 18.78 | 2411 | 34.16 | 4722 | 66.91 | 2335 | 33.09 |
| 9. කළුතර | 7668 | 649 | 8.46 | 590 | 7.69 | 1549 | 20.2 | 2527 | 32.96 | 5315 | 69.31 | 2353 | 30.69 |
| 10. මතුගම | 3048 | 303 | 9.94 | 258 | 8.46 | 562 | 18.44 | 951 | 31.2 | 2074 | 68.04 | 974 | 31.96 |
| 11. හොරණ | 4530 | 404 | 8.92 | 355 | 7.84 | 876 | 19.34 | 1402 | 30.95 | 3037 | 67.04 | 1493 | 32.96 |
| 12. මහනුවර | 6947 | 1415 | 20.37 | 905 | 13.03 | 1572 | 22.63 | 1783 | 25.67 | 5675 | 81.69 | 1272 | 18.31 |
| 13. දෙනුවර | 1868 | 53 | 2.84 | 106 | 5.67 | 329 | 17.61 | 666 | 35.65 | 1154 | 61.78 | 714 | 38.22 |
| 14. ගම්පොල | 3172 | 97 | 3.06 | 129 | 4.07 | 425 | 13.4 | 1144 | 36.07 | 1795 | 56.59 | 1377 | 43.41 |
| 15. තෙල්දෙණිය | 1620 | 43 | 2.65 | 74 | 4.57 | 250 | 15.43 | 583 | 35.99 | 950 | 58.64 | 670 | 41.36 |
| 16. වත්තේගම | 2303 | 61 | 2.65 | 139 | 6.04 | 440 | 19.11 | 925 | 40.17 | 1565 | 67.95 | 738 | 32.05 |
| 17. කටුගස්තොට | 2872 | 100 | 3.48 | 168 | 5.85 | 542 | 18.87 | 1087 | 37.85 | 1897 | 66.05 | 975 | 33.95 |
| 18. මාතලේ | 3466 | 343 | 9.9 | 312 | 9 | 609 | 17.57 | 1172 | 33.81 | 2436 | 70.28 | 1030 | 29.72 |
| 19. ගලේවෙල | 1937 | 54 | 2.79 | 104 | 5.37 | 280 | 14.46 | 651 | 33.61 | 1089 | 56.22 | 848 | 43.78 |
| 20. නාඋල | 451 | 4 | 0.89 | 15 | 3.33 | 55 | 12.2 | 184 | 40.8 | 258 | 57.21 | 193 | 42.79 |
| 21. විල්ගමුව | 552 | 9 | 1.63 | 27 | 4.89 | 73 | 13.22 | 189 | 34.24 | 298 | 53.99 | 254 | 46.01 |
| 22. නුවරඑළිය | 2626 | 62 | 2.36 | 103 | 3.92 | 432 | 16.45 | 963 | 36.67 | 1560 | 59.41 | 1066 | 40.59 |
| 23. කොත්මලේ | 1286 | 67 | 5.21 | 73 | 5.68 | 190 | 14.77 | 416 | 32.35 | 746 | 58.01 | 540 | 41.99 |
| 24. හැටන් | 2708 | 149 | 5.5 | 124 | 4.58 | 348 | 12.85 | 936 | 34.56 | 1557 | 57.5 | 1151 | 42.5 |
| 25. වලපනේ | 1298 | 41 | 3.16 | 48 | 3.7 | 164 | 12.63 | 534 | 41.14 | 787 | 60.63 | 511 | 39.37 |
| 26. හඟුරන්කෙත | 1497 | 89 | 5.95 | 125 | 8.35 | 217 | 14.5 | 434 | 28.99 | 865 | 57.78 | 632 | 42.22 |
| 27. ගාල්ල | 6895 | 1109 | 16.08 | 739 | 10.72 | 1435 | 20.81 | 2057 | 29.83 | 5340 | 77.45 | 1555 | 22.55 |
| 28. ඇල්පිටිය | 3109 | 147 | 4.73 | 186 | 5.98 | 581 | 18.69 | 1204 | 38.73 | 2118 | 68.12 | 991 | 31.88 |
| 29. අම්බලන්ගොඩ | 3149 | 370 | 11.75 | 276 | 8.76 | 587 | 18.64 | 1094 | 34.74 | 2327 | 73.9 | 822 | 26.1 |
| 30. උඩුගම | 1766 | 75 | 4.25 | 95 | 5.38 | 310 | 17.55 | 706 | 39.98 | 1186 | 67.16 | 580 | 32.84 |
| 31. මාතර | 5132 | 855 | 16.66 | 561 | 10.93 | 1105 | 21.53 | 1469 | 28.62 | 3990 | 77.75 | 1142 | 22.25 |
| 32. අකුරැස්ස | 1964 | 170 | 8.66 | 189 | 9.62 | 403 | 20.52 | 643 | 32.74 | 1405 | 71.54 | 559 | 28.46 |
| 33. මුලටියන-හක්මණ | 1984 | 115 | 5.8 | 160 | 8.06 | 441 | 22.23 | 751 | 37.85 | 1467 | 73.94 | 517 | 26.06 |
| 34. මොරවක-දෙනියාය | 2264 | 100 | 4.42 | 113 | 4.99 | 404 | 17.84 | 869 | 38.38 | 1486 | 65.64 | 778 | 34.36 |

| අධ්‍යාපන කලාපය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | දුර්වල (W) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 35. තංගල්ල | 2394 | 202 | 8.44 | 210 | 8.77 | 543 | 22.68 | 857 | 35.8 | 1812 | 75.69 | 582 | 24.31 |
| 36. හම්බන්තොට | 3610 | 194 | 5.37 | 257 | 7.12 | 786 | 21.77 | 1346 | 37.29 | 2583 | 71.55 | 1027 | 28.45 |
| 37. වලස්මුල්ල | 2488 | 350 | 14.07 | 294 | 11.82 | 582 | 23.39 | 796 | 31.99 | 2022 | 81.27 | 466 | 18.73 |
| 38. යාපනය | 3514 | 442 | 12.58 | 377 | 10.73 | 676 | 19.24 | 989 | 28.14 | 2484 | 70.69 | 1030 | 29.31 |
| 39. දූපත් | 708 | 13 | 1.84 | 20 | 2.82 | 59 | 8.33 | 192 | 27.12 | 284 | 40.11 | 424 | 59.89 |
| 40. තෙන්මාරච්චි | 1004 | 74 | 7.37 | 56 | 5.58 | 151 | 15.04 | 325 | 32.37 | 606 | 60.36 | 398 | 39.64 |
| 41. වලිකාමම් | 2905 | 106 | 3.65 | 152 | 5.23 | 376 | 12.94 | 859 | 29.57 | 1493 | 51.39 | 1412 | 48.61 |
| 42. වඩමරච්චි | 1636 | 149 | 9.11 | 136 | 8.31 | 271 | 16.56 | 459 | 28.06 | 1015 | 62.04 | 621 | 37.96 |
| 43. කිලිනොච්චි | 2177 | 68 | 3.12 | 84 | 3.86 | 243 | 11.16 | 621 | 28.53 | 1016 | 46.67 | 1161 | 53.33 |
| 44. මන්නාරම | 1323 | 75 | 5.67 | 65 | 4.91 | 211 | 15.95 | 492 | 37.19 | 843 | 63.72 | 480 | 36.28 |
| 45. මඩු | 312 | 2 | 0.64 | 11 | 3.53 | 39 | 12.5 | 125 | 40.06 | 177 | 56.73 | 135 | 43.27 |
| 46. වව්නියාව | 2061 | 158 | 7.67 | 148 | 7.18 | 313 | 15.19 | 642 | 31.15 | 1261 | 61.18 | 800 | 38.82 |
| 47. වව්නියාව උතුර | 485 | 6 | 1.24 | 12 | 2.47 | 48 | 9.9 | 142 | 29.28 | 208 | 42.89 | 277 | 57.11 |
| 48. මුලතිව් | 1121 | 45 | 4.01 | 49 | 4.37 | 144 | 12.85 | 354 | 31.58 | 592 | 52.81 | 529 | 47.19 |
| 49. තුනුක්කායි | 496 | 11 | 2.22 | 18 | 3.63 | 48 | 9.68 | 161 | 32.46 | 238 | 47.98 | 258 | 52.02 |
| 50. මඩකලපුව | 2148 | 248 | 11.55 | 148 | 6.89 | 364 | 16.95 | 679 | 31.61 | 1439 | 66.99 | 709 | 33.01 |
| 51. කල්කුඩා | 1071 | 33 | 3.08 | 45 | 4.2 | 138 | 12.89 | 385 | 35.95 | 601 | 56.12 | 470 | 43.88 |
| 52. පඩිරිප්පු | 1354 | 62 | 4.58 | 68 | 5.02 | 185 | 13.66 | 439 | 32.42 | 754 | 55.69 | 600 | 44.31 |
| 53. මඩකලපුව මධ්‍යම | 1650 | 187 | 11.33 | 184 | 11.15 | 420 | 25.45 | 575 | 34.85 | 1366 | 82.79 | 284 | 17.21 |
| 54. මඩකලපුව බස්නාහිර | 942 | 10 | 1.06 | 13 | 1.38 | 58 | 6.16 | 264 | 28.03 | 345 | 36.62 | 597 | 63.38 |
| 55. අම්පාර | 2171 | 154 | 7.09 | 162 | 7.46 | 366 | 16.86 | 778 | 35.84 | 1460 | 67.25 | 711 | 32.75 |
| 56. කල්මුනේ | 2149 | 237 | 11.03 | 232 | 10.8 | 475 | 22.1 | 755 | 35.13 | 1699 | 79.06 | 450 | 20.94 |
| 57. සමන්තුරෙයි | 1265 | 95 | 7.51 | 93 | 7.35 | 245 | 19.37 | 455 | 35.97 | 888 | 70.2 | 377 | 29.8 |
| 58. මහඔය | 520 | 15 | 2.88 | 23 | 4.42 | 83 | 15.96 | 213 | 40.96 | 334 | 64.23 | 186 | 35.77 |
| 59. දෙහිඅත්තකණ්ඩිය | 859 | 26 | 3.03 | 44 | 5.12 | 148 | 17.23 | 314 | 36.55 | 532 | 61.93 | 327 | 38.07 |
| 60. අක්කරෙයිපත්තුව | 1064 | 95 | 8.93 | 119 | 11.18 | 298 | 28.01 | 376 | 35.34 | 888 | 83.46 | 176 | 16.54 |
| 61. තිරුක්කෝවිල් | 830 | 48 | 5.78 | 60 | 7.23 | 163 | 19.64 | 303 | 36.51 | 574 | 69.16 | 256 | 30.84 |
| 62. ත්‍රිකුණාමලය | 1687 | 155 | 9.19 | 111 | 6.58 | 285 | 16.89 | 559 | 33.14 | 1110 | 65.8 | 577 | 34.2 |
| 63. මුතූර් | 1216 | 40 | 3.29 | 54 | 4.44 | 178 | 14.64 | 388 | 31.91 | 660 | 54.28 | 556 | 45.72 |
| 64. කන්තලේ | 879 | 35 | 3.98 | 51 | 5.8 | 179 | 20.36 | 306 | 34.81 | 571 | 64.96 | 308 | 35.04 |
| 65. කින්නියා | 1298 | 52 | 4.01 | 81 | 6.24 | 332 | 25.58 | 492 | 37.9 | 957 | 73.73 | 341 | 26.27 |
| 66. ත්‍රිකුණාමලය උතුර | 569 | 17 | 2.99 | 20 | 3.51 | 71 | 12.48 | 184 | 32.34 | 292 | 51.32 | 277 | 48.68 |
| 67. කුරුණෑගල | 5417 | 738 | 13.62 | 510 | 9.41 | 987 | 18.22 | 1770 | 32.67 | 4005 | 73.93 | 1412 | 26.07 |
| 68. කුලියාපිටිය | 3891 | 346 | 8.89 | 304 | 7.81 | 709 | 18.22 | 1351 | 34.72 | 2710 | 69.65 | 1181 | 30.35 |
| 69. නිකවැරටිය | 2588 | 135 | 5.22 | 185 | 7.15 | 553 | 21.37 | 898 | 34.7 | 1771 | 68.43 | 817 | 31.57 |
| 70. මහව | 3334 | 103 | 3.09 | 179 | 5.37 | 517 | 15.51 | 1324 | 39.71 | 2123 | 63.68 | 1211 | 36.32 |
| 71. ගිරිඋල්ල | 3541 | 207 | 5.85 | 239 | 6.75 | 669 | 18.89 | 1280 | 36.15 | 2395 | 67.64 | 1146 | 32.36 |
| 72. ඉබ්බාගමුව | 2933 | 211 | 7.19 | 223 | 7.6 | 493 | 16.81 | 1050 | 35.8 | 1977 | 67.41 | 956 | 32.59 |
| 73. පුත්තලම | 4735 | 169 | 3.57 | 223 | 4.71 | 608 | 12.84 | 1648 | 34.8 | 2648 | 55.92 | 2087 | 44.08 |
| 74. හලාවත | 5245 | 485 | 9.25 | 417 | 7.95 | 886 | 16.89 | 1677 | 31.97 | 3465 | 66.06 | 1780 | 33.94 |

| අධ්‍යාපන කලාපය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | දුර්වල (W) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 75. අනුරාධපුරය | 4150 | 389 | 9.37 | 365 | 8.8 | 811 | 19.54 | 1325 | 31.93 | 2890 | 69.64 | 1260 | 30.36 |
| 76. තඹුත්තේගම | 2000 | 64 | 3.2 | 62 | 3.1 | 300 | 15 | 792 | 39.6 | 1218 | 60.9 | 782 | 39.1 |
| 77. කැකිරාව | 2280 | 178 | 7.81 | 166 | 7.28 | 337 | 14.78 | 799 | 35.04 | 1480 | 64.91 | 800 | 35.09 |
| 78. ගලෙන්බිඳුණුවැව | 1460 | 41 | 2.81 | 76 | 5.21 | 277 | 18.97 | 611 | 41.85 | 1005 | 68.84 | 455 | 31.16 |
| 79. කැබිතිගොල්ලෑව | 1640 | 56 | 3.41 | 75 | 4.57 | 321 | 19.57 | 649 | 39.57 | 1101 | 67.13 | 539 | 32.87 |
| 80. පොළොන්නරුව | 1642 | 119 | 7.25 | 145 | 8.83 | 341 | 20.77 | 574 | 34.96 | 1179 | 71.8 | 463 | 28.2 |
| 81. හිඟුරක්ගොඩ | 2120 | 104 | 4.91 | 134 | 6.32 | 317 | 14.95 | 680 | 32.08 | 1235 | 58.25 | 885 | 41.75 |
| 82. දිඹුලාගල | 1239 | 18 | 1.45 | 45 | 3.63 | 198 | 15.98 | 457 | 36.88 | 718 | 57.95 | 521 | 42.05 |
| 83. බදුල්ල | 2560 | 246 | 9.61 | 220 | 8.59 | 506 | 19.77 | 861 | 33.63 | 1833 | 71.6 | 727 | 28.4 |
| 84. බණ්ඩාරවෙල | 3290 | 334 | 10.15 | 306 | 9.3 | 639 | 19.42 | 1037 | 31.52 | 2316 | 70.4 | 974 | 29.6 |
| 85. මහියංගනය | 1798 | 55 | 3.06 | 76 | 4.23 | 261 | 14.52 | 619 | 34.43 | 1011 | 56.23 | 787 | 43.77 |
| 86. වැලිමඩ | 2433 | 74 | 3.04 | 105 | 4.32 | 425 | 17.47 | 1012 | 41.59 | 1616 | 66.42 | 817 | 33.58 |
| 87. පස්සර | 1094 | 25 | 2.29 | 31 | 2.83 | 150 | 13.71 | 410 | 37.48 | 616 | 56.31 | 478 | 43.69 |
| 88. වියලුව | 848 | 10 | 1.18 | 21 | 2.48 | 106 | 12.5 | 345 | 40.68 | 482 | 56.84 | 366 | 43.16 |
| 89. මොණරාගල | 1990 | 118 | 5.93 | 130 | 6.53 | 345 | 17.34 | 646 | 32.46 | 1239 | 62.26 | 751 | 37.74 |
| 90. වැල්ලවාය | 2774 | 134 | 4.83 | 153 | 5.52 | 453 | 16.33 | 1030 | 37.13 | 1770 | 63.81 | 1004 | 36.19 |
| 91. බිබිල | 1414 | 66 | 4.67 | 89 | 6.29 | 275 | 19.45 | 487 | 34.44 | 917 | 64.85 | 497 | 35.15 |
| 92. රත්නපුර | 5762 | 599 | 10.4 | 545 | 9.46 | 1089 | 18.9 | 1833 | 31.81 | 4066 | 70.57 | 1696 | 29.43 |
| 93. බලන්ගොඩ | 2542 | 216 | 8.5 | 194 | 7.63 | 416 | 16.37 | 799 | 31.43 | 1625 | 63.93 | 917 | 36.07 |
| 94. නිවිතිගල | 2168 | 95 | 4.38 | 122 | 5.63 | 401 | 18.5 | 790 | 36.44 | 1408 | 64.94 | 760 | 35.06 |
| 95. ඇඹිලිපිටිය | 3281 | 164 | 5 | 198 | 6.03 | 580 | 17.68 | 1175 | 35.81 | 2117 | 64.52 | 1164 | 35.48 |
| 96. කෑගල්ල | 4218 | 504 | 11.95 | 410 | 9.72 | 890 | 21.1 | 1398 | 33.14 | 3202 | 75.91 | 1016 | 24.09 |
| 97. මාවනැල්ල | 3478 | 246 | 7.07 | 296 | 8.51 | 647 | 18.6 | 1215 | 34.93 | 2404 | 69.12 | 1074 | 30.88 |
| 98. දෙහිඕවිට | 3291 | 124 | 3.77 | 188 | 5.71 | 608 | 18.47 | 1214 | 36.89 | 2134 | 64.84 | 1157 | 35.16 |
| **සමස්ත දිවයින** | **272865** | **24270** | **8.89** | **21072** | **7.72** | **49778** | **18.24** | **90474** | **33.16** | **185594** | **68.02** | **87271** | **31.98** |

වගුව 4

**1.2.5** ලකුණු ලබාගෙන ඇති ආකාරය - පන්ති ප්‍රාන්තර අනුව

| පන්ති ප්‍රාන්තරය | සංඛ්‍යාතය | සංඛ්‍යාත ප්‍රතිශතය | සමුච්චිත සංඛ්‍යාතය | සමුච්චිත සංඛ්‍යාත ප්‍රතිශතය |
|---|---|---|---|---|
| 91 - 100 | 660 | 0.20 | 327084 | 100.00 |
| 81 - 90 | 6904 | 2.11 | 326424 | 99.80 |
| 71 - 80 | 15529 | 4.75 | 319520 | 97.69 |
| 61 - 70 | 21305 | 6.51 | 303991 | 92.94 |
| 51 - 60 | 33734 | 10.31 | 282686 | 86.43 |
| 41 - 50 | 45461 | 13.90 | 248952 | 76.11 |
| 31 - 40 | 77247 | 23.62 | 203491 | 62.21 |
| 21 - 30 | 86223 | 26.36 | 126244 | 38.60 |
| 11 - 20 | 37865 | 11.58 | 40021 | 12.24 |
| 01 - 10 | 2140 | 0.65 | 2156 | 0.66 |
| 00 - 00 | 16 | 0.00 | 16 | 0.00 |

වගුව 5

ඉහත වගුවෙන් තොරතුරු ලබා ගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.
උදා : (31 - 40 පන්ති ප්‍රාන්තරය ගත හොත්)
මෙම විෂයය සඳහා 31 - 40 ප්‍රාන්තරය තුළ ලකුණු ලබා ගත් සංඛ්‍යාව 77247කි. එය ප්‍රතිශතයක් වශයෙන් 23.62කි. ලකුණු 40 හෝ ඊට අඩුවෙන් ලබා ඇති සංඛ්‍යාව 203491ක් වන අතර, එය ප්‍රතිශතයත් වශයෙන් 62.21කි.

## 1.3 විෂය සාධනය පිළිබඳ විශ්ලේෂණය

### 1.3.1 I ප්‍රශ්න පත්‍රය සඳහා සාධනය




ප්‍රස්තාරය 1 (RD/16/05/OL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

## 1.3.2 II ප්‍රශ්න පත්‍රයෙහි ප්‍රශ්න තෝරාගෙන ඇති ආකාරය




ප්‍රස්තාරය 2 (RD/16/02/OL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

මෙම ප්‍රස්තාරයෙන් තොරතුරු ලබා ගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා : මෙහි 1 - 4 දක්වා ප්‍රශ්න අනිවාර්ය වුවත්, සුළු පිරිසක් අනිවාර්ය ප්‍රශ්නවලට ද පිළිතුරු සපයා නැත. 1 ප්‍රශ්නයට පිළිතුරු සපයා ඇත්තේ 99.5%ක් පමණ පිරිසකි. 8 ප්‍රශ්නය තෝරා ගත් පිරිස 13.46%ක් පමණ වේ.

## 1.3.3 II ප්‍රශ්න පත්‍රයෙහි ප්‍රශ්න සඳහා ලකුණු ලබාගෙන ඇති ආකාරය




ප්‍රස්තාරය 3 (RD/16/02/OL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

මෙම ප්‍රස්තාරයෙන් තොරතුරු ලබා ගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා : මෙහි 1 ප්‍රශ්නය සඳහා වෙන් කර ඇති ලකුණු ප්‍රමාණය ලකුණු 15කි. එම ලකුණුවලින්, 76 - 100 ප්‍රාන්තරයේ එනම් ලකුණු 12 - 15 තෙක් ලබාගත් ප්‍රතිශතය 3කි. එමෙන්ම වෙන් කර ඇති ලකුණු 15න් 00 - 25 ප්‍රාන්තරයේ එනම් ලකුණු 0 - 3 තෙක් ලබාගත් ප්‍රතිශතය 33ක් පමණ වේ.

### 1.3.4 II ප්‍රශ්න පත්‍රය සඳහා සාධනය




ප්‍රස්තාරය 4.1 (RD/16/04/OL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

**අ.පො.ස.(සා.පෙළ) විභාගය - 2015**
**34 - විද්‍යාව**
**II පත්‍රය (A කොටස) ප්‍රශ්නවල පහසුතා දර්ශකය**




ප්‍රස්තාරය 4.2

**අ.පො.ස.(සා.පෙළ) විභාගය - 2015**
**34 - විද්‍යාව**
**II පත්‍රය (B කොටස) ප්‍රශ්නවල පහසුතා දර්ශකය**

**පහසුතා දර්ශකය**




ප්‍රස්තාරය 4.3

# II කොටස

## 2. ප්‍රශ්න හා පිළිතුරු සැපයීම පිළිබඳ තොරතුරු

## 2.1 I ප්‍රශ්න පත්‍රය හා පිළිතුරු සැපයීම පිළිබඳ තොරතුරු

### 2.1.1 I ප්‍රශ්න පත්‍රයේ ව්‍යුහය

කාලය පැය 01කි. මුළු ලකුණු 40කි.

- ⋆ වරණ හතරක් සහිත බහුවරණ ප්‍රශ්න 40කින් සමන්විත වේ. එම එක් එක් ප්‍රශ්නයට දී ඇති (1), (2), (3) හා (4) වරණවලින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ වරණය තේරීම අපේක්ෂා කෙරේ.

- ⋆ 1 - 12 දක්වා ප්‍රශ්න ජීව විද්‍යාවෙන් ද, 13 - 24 දක්වා ප්‍රශ්න රසායන විද්‍යාවෙන් ද, 25 - 36 දක්වා ප්‍රශ්න භෞතික විද්‍යාවෙන් ද, 37 - 40 දක්වා ප්‍රශ්න කාලීන සිදුවීම් ඇසුරින් ද සකස් කර ඇත.

- ⋆ ප්‍රශ්න සියල්ලට ම පිළිතුරු සැපයීම අපේක්ෂිත ය.

## 2.1.2 I ප්‍රශ්න පත්‍රය

1. පහත දී ඇති ශාක අතුරෙන් බීජ හට ගන්නා අපුෂ්ප ශාකයක් වන්නේ කුමක් ද?
(1) මඩු (2) නෙෆ්රොලෙපිස් (3) වී (4) තෘණ

2. ද්විපද නාමකරණයට අනුව, මෑ ශාකයේ විද්‍යාත්මක නාමය නිවැරදි ව දක්වා ඇති පිළිතුර තෝරන්න.
(1) *Pisum Sativum* (2) Pisum Sativum (3) *Pisum sativum* (4) Pisum sativum

3. පහත සඳහන් ඒවා අතුරෙන් ශාක සෛලයක ඇති අජීවී ව්‍යුහයක් වන්නේ කවරක් ද?
(1) හරිතලවය (2) සෛල බිත්තිය (3) ගොල්ගි දේහය (4) රයිබොසෝම

4. වැඩුණු නිරෝගී පුද්ගලයකුගේ උඩු හනුවේ දෙපැත්තේ තිබිය යුතු පුරශ්චාර්වක දත් ගණන,
(1) දෙකකි. (2) හතරකි. (3) හයකි. (4) අටකි.

5. කුරුඳු තෙල් බෝතලයක් විවෘත කළ විට කුරුඳු තෙල්වල සුවඳ වාතය තුළ පැතිර යයි. මෙය කුමන පරිවහන ක්‍රමයට අයත් වේ ද?
(1) ස්කන්ධ ප්‍රවාහය (2) ආසෘතිය (3) වාෂ්පීභවනය (4) විසරණය

6. පහත සඳහන් කුමන සාධකයේ වැඩි වීම, උත්ස්වේදනය වැඩි **නොකරයි ද?**
(1) වාතයේ ආර්ද්‍රතාව (2) සුළඟේ වේගය (3) පරිසර උෂ්ණත්වය (4) ආලෝක තීව්‍රතාව

7. මිනිසාගේ ආහාර ජීරණ පද්ධතියේ අග්න්‍යාශයික යුෂයේ අඩංගු කුමන එන්සයිමය මගින් ප්‍රෝටීන ජීරණය කරනු ලබයි ද?
(1) ට්‍රිප්සින් (2) පෙප්ටිඩේස් (3) පෙප්සින් (4) ලයිපේස්

8. උගුර රතු වීමත්, උගුරේ වේදනාවත්, කටහඬ පිට නොවීමත් නිසා පන්තිභාර ගුරුතුමියට දින දෙකක් පාසලට පැමිණීමට නොහැකි විය. ඇයට පැවැති රෝගී තත්ත්වය කුමක් විය හැකි ද?
(1) ඇදුම (2) ගැස්ට්‍රයිටිස් (3) ක්ෂයරෝගය (4) ස්වරාලප්‍රදාහය

9. කිසිදු දෘශ්‍යාබාධයක් නොමැති පුද්ගලයකුට සාමාන්‍යයෙන් යම් වස්තුවක් පැහැදිලි ලෙස දර්ශනය වන්නේ එහි ප්‍රතිබිම්බය,
(1) අක්ෂි කාචයට ඉතා ආසන්නව සෑදී ඇති විට ය.
(2) අක්ෂි කාචය හා දෘෂ්ටි විතානය අතර සෑදී ඇති විට ය.
(3) දෘෂ්ටි විතානය මත සෑදී ඇති විට ය.
(4) දෘෂ්ටි විතානයට පිටුපසින් සෑදී ඇති විට ය.

10. "එක්තරා මව්පිය දෙදෙනකුට උපන් පුත්තු දෙදෙනා ම වර්ණාන්ධතාවයෙන් පෙළෙති." මෙම ප්‍රකාශය සම්බන්ධව පහත සඳහන් ඒවායින් **නිශ්චිතව ම** කිව හැකි වන්නේ කවරක් ද?
(1) මව වර්ණාන්ධතාවයෙන් පෙළෙයි.
(2) පියා වර්ණාන්ධතාවයෙන් පෙළෙයි.
(3) මව හෝ පියා හෝ වර්ණාන්ධතාවයෙන් පෙළෙයි.
(4) මව හා පියා දෙදෙනා ම වර්ණාන්ධතාවයෙන් පෙළෙති.

11. ශිෂ්‍යයෙක්, *A* හා *B* නිදර්ශක සංයුක්ත අණ්වීක්ෂය යටතේ නිරීක්ෂණය කර ඒවායේ අඩංගු පටක පිළිවෙළින්, මෘදුස්තර හා දෘඪස්තර ලෙස හඳුනා ගත්තේ ය. *A* හා *B* නිදර්ශක පිළිවෙළින්, පහත සඳහන් කුමන ශාක කොටස්වලින් විය හැකි ද?
(1) අර්තාපල් අලයක්, කැරට් අලයක් (2) කරවිල පත්‍රයක මධ්‍ය නාරටිය, කැරට් අලයක්
(3) අර්තාපල් අලයක්, පෙයාස් ඵලයක් (4) කෝපි ඇටයක්, පෙයාස් ඵලයක්

12. "වඩාත් උචිත ජානමය විවිධත්වයෙන් යුත් ජීවීහු වඩාත් දිගු කාලයක් ජීවත් වෙති." මෙම ප්‍රකාශය පැහැදිලි කළ හැකි වන්නේ,
(1) මැවීම් වාදය මගිනි. (2) ස්වයංසිද්ධ ජනන වාදය මගිනි.
(3) වහර-අවහර වාදය මගිනි. (4) ස්වාභාවික වරණ වාදය මගිනි.

13. යකඩ ගැල්වනයිස් කිරීමට යොදා ගන්නේ කුමන ලෝහය ද?
(1) කොපර් (2) ලෙඩ් (3) ඇලුමිනියම් (4) සින්ක්

14. පාසල් විද්‍යාගාරයේ දී කරනු ලබන පරීක්ෂණවල දී ඔක්සිජන් වායුව එක්රැස් කර ගන්නේ,
(1) ජලයේ යටිකුරු විස්ථාපනයෙනි. (2) වාතයේ යටිකුරු විස්ථාපනයෙනි.
(3) වාතයේ උඩුකුරු විස්ථාපනයෙනි. (4) ජලයේ උඩුකුරු විස්ථාපනයෙනි.

15. **X** නම් මූලද්‍රව්‍යයක්, $Cl_2$ වායුව සමග ප්‍රතික්‍රියා කර $XCl_2$ නම් අයනික සංයෝගය සාදයි. **X** හි ඉලෙක්ට්‍රෝන වින්‍යාසය විය හැක්කේ,
(1) 2, 6 ය. (2) 2, 8 ය. (3) 2, 8, 1 ය. (4) 2, 8, 2 ය.

16. අවර්ණ ජලීය ද්‍රාවණයක් තුළට එක්තරා වායුවක් බුබුලනය කළ විට එම ද්‍රාවණය කිරි පාටට හැරේ. ද්‍රාවණය හා වායුව විය හැකි වන්නේ,
(1) $CuSO_4$ හා $O_2$ ය. (2) $Ca(OH)_2$ හා $CO_2$ ය. (3) $ZnSO_4$ හා $O_2$ ය. (4) $CaCO_3$ හා $CO_2$ ය.

● අංක **17** සහ **18** ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමට පහත රූප සටහනේ දී ඇති සරල වෝල්ටීය කෝෂය භාවිත කරන්න.




**17.** බාහිර පරිපථයේ ඊ තලයේ දිශාවෙන් පෙන්වන්නේ,
(1) ඉලෙක්ට්‍රෝන ගමන් කරන දිශාවයි.
(2) සම්මත ධාරාව ගමන් කරන දිශාවයි.
(3) අයන ගමන් කරන දිශාවයි.
(4) ඉලෙක්ට්‍රෝන හා සම්මත ධාරාව ගමන් කරන දිශාවයි.

**18.** කෝෂයේ ඇනෝඩ ප්‍රතික්‍රියාව කුමක් ද?
(1) $Cu^{2+}(aq) + 2e \longrightarrow Cu(s)$ (2) $Zn^{2+}(aq) + 2e \longrightarrow Zn(s)$
(3) $Zn(s) \longrightarrow Zn^{2+}(aq) + 2e$ (4) $2H^{+}(aq) + 2e \longrightarrow H_2(g)$

**19.** එක්තරා මූලද්‍රව්‍යයක් සම්බන්ධව කර ඇති පහත සඳහන් ප්‍රකාශ සලකන්න.
- බහුරූපී ආකාරවලින් ස්වභාවයේ පවතී.
- ඉහළ ද්‍රවාංකයක් ඇත.
- ලෝහ නිස්සාරණය සඳහා එය යොදා ගැනේ.

මෙම මූලද්‍රව්‍යය කුමක් විය හැකි ද?
(1) K (2) Al (3) C (4) S

**20.** නිල් හා රතු ලිට්මස් කඩදාසි, විනාකිරි ද්‍රාවණයක් තුළ හා මේසලුණු ද්‍රාවණයක් තුළ වෙන වෙන ම ගිල්වූ විට එම කඩදාසි පෙන්වන වර්ණය දක්වන පිළිතුර තෝරන්න.

| | ලිට්මස් කඩදාසිය | විනාකිරි ද්‍රාවණය තුළ දී වර්ණය | මේසලුණු ද්‍රාවණය තුළ දී වර්ණය |
|---|---|---|---|
| (1) | රතු | නිල් | රතු |
| (2) | නිල් | රතු | නිල් |
| (3) | රතු | රතු | නිල් |
| (4) | නිල් | නිල් | නිල් |

● පහත දී ඇති ප්‍රකාශය සලකා අංක **21** සහ **22** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

"ඝන NaOH 1 g ක් තනුක HCl ද්‍රාවණයක් සමග සම්පූර්ණයෙන් ප්‍රතික්‍රියා කිරීමේ දී 1.47 kJ ක තාප ප්‍රමාණයක් නිදහස් විය."

**21.** ඝන NaOH 1 mol ක් HCl ද්‍රාවණයක් සමග සම්පූර්ණයෙන් ප්‍රතික්‍රියා කිරීමේ දී නිදහස් වන තාප ප්‍රමාණය කොපමණ ද? $(Na = 23, O = 16, H = 1)$
(1) 1.47 kJ (2) 5.88 kJ (3) 58.80 kJ (4) 147.00 kJ

**22.** ඉහත ප්‍රකාශයේ සඳහන් ප්‍රතික්‍රියාවට අදාළ නිවැරදි ශක්ති සටහන කුමක් ද?




**23.** ශ්‍රී ලංකාවේ හග්ගල උද්භිද උද්‍යානයේ සමහර ශාක, වීදුරු ගෘහයක් තුළ වවා ඇත. ශාක සඳහා එම වීදුරු ගෘහය,
(1) ප්‍රමාණවත් $O_2$ වායුව සපයයි. (2) යෝග්‍ය උෂ්ණත්වය සපයයි.
(3) ප්‍රමාණවත් $CO_2$ වායුව සපයයි. (4) ප්‍රමාණවත් ආලෝකය සපයයි.

**24.** එළවලු පාත්තියකින් ඉවත් වන අපවිත්‍ර ජලය එක්රැස් වන ජලාශයක ජල පෘෂ්ඨය මත කොළ පැහැති ස්තරයක් ශිෂ්‍යයකුට නිරීක්ෂණය කළ හැකි විය. නිරීක්ෂණය අනුව, ඔහු පහත සඳහන් ප්‍රකාශ ඉදිරිපත් කර ඇත.
*A* – එළවලු වගාව සඳහා අකාබනික පොහොර ඉහළ මට්ටමකින් යොදා ඇත.
*B* – කොළ පැහැති ස්තරය ඇල්ගීවලින් සාන්ද්‍රණය වී ඇත.
*C* – ජලාශයේ ඇති ජලයේ BOD අගය අඩු වී ඇත.

ඉහත ප්‍රකාශවලින්,
(1) *A* හා *B* පමණක් සත්‍ය වේ. (2) *A* හා *C* පමණක් සත්‍ය වේ.
(3) *B* හා *C* පමණක් සත්‍ය වේ. (4) *A*, *B* හා *C* සියල්ල ම සත්‍ය වේ.

**25.** මිනිස් සිරුරේ සාමාන්‍ය උෂ්ණත්වය 37 °C වේ. මෙම උෂ්ණත්වය කෙල්වින් පරිමාණයෙන්,
(1) 236 වේ. (2) 273 වේ. (3) 310 වේ. (4) 337 වේ.

**26.** සංශුද්ධ සිලිකන් කැබැල්ලක්, *n*-වර්ගයේ අර්ධ සන්නායකයක් බවට පත් කිරීම සඳහා සිලිකන් සමග පහත සඳහන් කුමන මූලද්‍රව්‍යය මාත්‍රණය කළ හැකි ද?
(1) බෝරෝන් (2) ඇලුමිනියම් (3) පොස්පරස් (4) ජර්මේනියම්

**27.** රූපයේ දැක්වෙන පරිදි වාතයේ තබා ඇති වීදුරු කුට්ටියක් මතට ආලෝක කිරණයක් පතනය වේ. පතන කෝණයේ විශාලත්වය $90^\circ$ දක්වා ක්‍රමයෙන් වැඩි කළ විට වර්තන කෝණයේ විශාලත්වය,




(1) වැඩි වේ.
(2) අඩු වේ.
(3) වැඩි වී අඩු වේ.
(4) වෙනස් නොවේ.

**28.**  මෙම සංගෘහිත පරිපථයේ අග්‍ර නිවැරදි ව අංකනය කරන්නේ පහත කුමන ආකාරයට ද?

(1) 


(2) 


(3) 


(4) 


**29.** පියකු විසින් තම දියණියට තෑගි කළ, රත්‍රං මාලයක ඇති රත්‍රං පරිමාව $2\ cm^3$ බව පවසා ඇත. එම රත්‍රංවල ඝනත්වය $18\ g\ cm^{-3}$ නම්, දියණියට ලැබුණු මාලයේ ස්කන්ධය කොපමණ ද?

(1) 9 g (2) 18 g (3) 27 g (4) 36 g

**30.** රූපයේ පෙන්වා ඇති පරිදි, ස්කන්ධය 5 g (0.005 kg) වන කුඩා සමනළයෙක් මලක $A$ නම් ලක්ෂ්‍යයක සිට තවත් මලක $B$ නම් ලක්ෂ්‍යයක් දක්වා පියාසර කළේ ය. $A$ සිට $B$ දක්වා පියාසර කළ විට සමනළයාගේ විභව ශක්තියේ වෙනස් වීම කොපමණ ද?
(ගුරුත්වජ ත්වරණය = $10\ m\ s^{-2}$)




(1) 0.01 J
(2) 0.10 J
(3) 0.20 J
(4) 0.50 J

**31.** පහත සඳහන් ①,②,③ හා ④ භාජන සලකන්න. භාජන හතර පිළිවෙළින් 12 cm, 12 cm, 15 cm හා 14 cm උස දක්වා පිරිසිදු ජලයෙන් පුරවා ඇත.




$P, Q, R$ හා $S$ යනු භාජනවල පතුලේ පිහිටි ලක්ෂ්‍යයන් ය. එම ලක්ෂ්‍යයන් අතුරෙන් ජලය නිසා වැඩි ම පීඩනය ඇති වන ලක්ෂ්‍යය කුමක් ද?

(1) $P$ (2) $Q$ (3) $R$ (4) $S$

**32.** රූපයේ පෙන්වා ඇති පරිදි $4\ m\ s^{-1}$ ඒකාකාර ප්‍රවේගයකින් ගමන් කරන ස්කන්ධය 1 kg වූ වස්තුවක්, ඒකාකාර ලෙස මන්දනය වී, නිශ්චලතාවයට පත් විය. එය මන්දනය වූ කාලය 2 s නම්, එහි මන්දනයත්, මන්දනය පටන් ගැනීමට පෙර තිබූ ගම්‍යතාවත් පිළිවෙළින් දැක්වෙන පිළිතුර තෝරන්න.




(1) $2\ m\ s^{-2}, 4\ kg\ m\ s^{-1}$ (2) $4\ m\ s^{-2}, 2\ kg\ m\ s^{-1}$ (3) $8\ m\ s^{-2}, 1\ kg\ m\ s^{-1}$ (4) $4\ m\ s^{-2}, 4\ kg\ m\ s^{-1}$

**33.** පහත දී ඇති ප්‍රකාශ සලකන්න.

$A$ – කතුර දෙවන ගණයේ ලීවරයක් වේ.

$B$ – සරල යන්ත්‍රයක යාන්ත්‍රික වාසිය දෙනු ලබන්නේ $\frac{\text{ආයාසය}}{\text{භාරය}}$ නම් අනුපාතය මගිනි.

$C$ – තනි අචල කප්පියක් මගින් කාර්යයක් කිරීමේ දී කප්පියේ ප්‍රවේග අනුපාතය 1 වේ.

ඉහත ප්‍රකාශවලින්,

(1) $B$ පමණක් සත්‍ය වේ. (2) $C$ පමණක් සත්‍ය වේ.
(3) $A$ හා $C$ පමණක් සත්‍ය වේ. (4) $A, B$ හා $C$ සියල්ල ම සත්‍ය වේ.

**34.** දී ඇති පරිපථයේ $3\ \Omega$ ප්‍රතිරෝධකයේ අග්‍ර අතර විභව අන්තරය කොපමණ ද?




(1) 3 V
(2) 6 V
(3) 9 V
(4) 12 V

**35.** ළමයකුට විදුලි කෙටීමක් දැක තත්පර 5කට පසු ගිගුරුම් හඬ ඇසුණි. වාතය තුළ ධ්වනි වේගය $330 \text{ m s}^{-1}$ නම් ළමයා සිටි ස්ථානයත්, විදුලි කෙටීම සිදු වූ ස්ථානයත් අතර දුර කීය ද?

(1) 1 500 m (2) 1 650 m (3) 2 000 m (4) 2 200 m

**36.** එක සමාන $A$ හා $B$ බීකර දෙක තුළ සමාන ජල පරිමා ඇත. රූපවල දක්වා ඇති පරිදි, එක සමාන නික්‍රෝම් කම්බි දඟර හතරකින් **එකක්** $A$ බීකරය තුළ ගිල්වා ඇති අතර, ශ්‍රේණිගතව සම්බන්ධ කළ ඉතිරි දඟර **තුන ම** $B$ බීකරය තුළ ගිල්වා ඇත. රූපවල දක්වා ඇති ආකාරයට කම්බි දඟර හරහා සමාන $I$ ධාරා, සමාන කාලයක් තුළ යවනු ලැබේ. $A$ හා $B$ හි ජලයේ උෂ්ණත්ව වැඩි වීම පිළිවෙළින් $t_1$ හා $t_2$ නම් සහ තාප හානියක් නොමැති නම්, උෂ්ණත්ව පිළිබඳ ව පහත කුමක් නිවැරදි ද?

(1) $t_2 = t_1$

(2) $t_2 = 2t_1$

(3) $t_2 = 3t_1$

(4) $t_2 = \frac{t_1}{3}$




**37.** පුද්ගලයින් ලියාපදිංචි කිරීමේ දෙපාර්තමේන්තුව, ශ්‍රී ලාංකික පුරවැසියන් සඳහා ඉලෙක්ට්‍රොනික හැඳුනුම්පත් ලබා දීමට අපේක්ෂා කරයි. මෙය, පහත සඳහන් කුමන තාක්ෂණයේ ප්‍රතිඵලයක් ලෙස සැලකිය හැකි ද?

(1) තොරතුරු තාක්ෂණය (2) නැනෝතාක්ෂණය

(3) අණුක ජෛව තාක්ෂණය (4) ජාන ඉංජිනේරු තාක්ෂණය

**38.** පහත දී ඇති කරුණු සලකන්න.

$P$ – මිනිසා ඇතුළු සත්ත්වයන්ගේ මූලික අවශ්‍යතා සපුරාලීම

$Q$ – කාබන් චක්‍රය හා ජල චක්‍රය වැනි ස්වාභාවික චක්‍ර පවත්වා ගැනීම

$R$ – දේශයේ සෞන්දර්යාත්මක හා සංස්කෘතික අගයන් වැඩි දියුණු කිරීම

ශ්‍රී ලංකාවේ ජෛව විවිධත්වයේ මෙහෙවර ලෙස සැලකිය හැකි වන්නේ,

(1) $P$ හා $Q$ පමණි. (2) $P$ හා $R$ පමණි. (3) $Q$ හා $R$ පමණි. (4) $P, Q$ හා $R$ සියල්ල ම ය.

**39.** විශ්ව ගම්මාන සංකල්පය යටතේ ශීඝ්‍රයෙන් දියුණුව කරා පියනගන ලෝකය තුළ භාවිතයෙන් ඉවත් කරන, රූපවාහිනී, පරිගණක හා දුරකථන වැනි උපකරණ හේතුවෙන් ගොඩනැගෙන පාරිසරික මෙන් ම සමාජ ප්‍රශ්න වඩාත් කාර්යක්ෂම ලෙස හා ඵලදායි ලෙස විසඳීම සඳහා පහත සඳහන් කුමන යෝජනාව ක්‍රියාත්මක කිරීම වඩාත් සුදුසු වේ ද?

(1) එම උපකරණ භාවිතය අවම කිරීම.

(2) එම උපකරණ නිෂ්පාදනය කරන ප්‍රමාණය අවම කිරීම.

(3) එම උපකරණ සඳහා ආදේශක නිර්මාණය කිරීම.

(4) නිෂ්පාදකයන් විසින් ම එම උපකරණ, නැවත භාවිතය සඳහා පිළිසකර කිරීමට ක්‍රියා මාර්ග ගැනීම.

**40.** 2015 වර්ෂයේ ලෝක විද්‍යා දිනයේ තේමාව කුමක් ද?

(1) තාක්ෂණය සඳහා විද්‍යාව (2) සෞඛ්‍යය හා යහපැවැත්ම සඳහා විද්‍යාව

(3) තිරසාර අනාගතයක් සඳහා විද්‍යාව (4) විශ්වය ගවේෂණය කිරීම සඳහා විද්‍යාව

**2.1.3** I ප්‍රශ්න පත්‍රය සඳහා අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය

| ප්‍රශ්න අංකය | පිළිතුර | ප්‍රශ්න අංකය | පිළිතුර |
|---|---|---|---|
| 01. | 1 | 21. | 3 |
| 02. | 3 | 22. | 1 |
| 03. | 2 | 23. | 2 |
| 04. | 2 | 24. | 1 |
| 05. | 4 | 25. | 3 |
| 06. | 1 | 26. | 3 |
| 07. | 1 | 27. | 1 |
| 08. | 4 | 28. | 2 |
| 09. | 3 | 29. | 4 |
| 10. | 1 | 30. | 2 |
| 11. | 3 | 31. | 3 |
| 12. | 4 | 32. | 1 |
| 13. | 4 | 33. | 2 |
| 14. | 1 | 34. | 2 |
| 15. | 4 | 35. | 2 |
| 16. | 2 | 36. | 3 |
| 17. | 2 | 37. | 1 |
| 18. | 3 | 38. | 4 |
| 19. | 3 | 39. | 4 |
| 20. | 2 | 40. | 3 |

නිවැරදි එක් පිළිතුරකට ලකුණු **02** බැගින් මුළු ලකුණු **80**කි.

**I** පත්‍රය සඳහා අවසාන ලකුණ $\frac{80}{2} = 40$

## 2.1.4 I ප්‍රශ්න පත්‍රයට පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ (විෂය ක්ෂේත්‍රය අනුව) :




| ප්‍රශ්න අංකය | විෂය ක්ෂේත්‍ර | පහසුතාව වැඩි ම ප්‍රශ්නය හා එහි පහසුතාව | පහසුතාව අඩු ම ප්‍රශ්නය හා එහි පහසුතාව |
|---|---|---|---|
| 1 - 12 | ජීව විද්‍යාව | 1 (79%) | 10 (17%) |
| 13 - 24 | රසායන විද්‍යාව | 19 (59%) | 22 (31%) |
| 25 - 36 | භෞතික විද්‍යාව | 35 (83%) | 34 (31%) |
| 37 - 40 | සාමාන්‍ය | 39 (61%) | 38 (38%) |




I ප්‍රශ්න පත්‍රය සැකසීමට යොදාගත් ප්‍රධාන විෂය ක්ෂේත්‍ර හතර අතුරින් ජීව විද්‍යාව ක්ෂේත්‍රයේ පහසුතාව 55%කි. කාලීන සිදුවීම් ආශ්‍රිත සාමාන්‍ය ප්‍රශ්න සඳහා පහසුතාව 50%කි. I ප්‍රශ්න පත්‍රයේ වඩා අපහසුම විෂය ක්ෂේත්‍රය රසායන විද්‍යාව වී ඇත. එහි පහසුතාව 44%කි.

සමස්ත වශයෙන් I ප්‍රශ්න පත්‍රයේ පහසුතාව 49%කි.

**2.1.5 I ප්‍රශ්න පත්‍රයේ එක් එක් ප්‍රශ්නයෙහි වරණ තෝරා ඇති ආකාරය - ප්‍රතිශත ලෙස**

| ප්‍රශ්න අංකය | නිවැරදි වරණය | එක් එක් වරණය තෝරා ඇති ශිෂ්‍ය ප්‍රතිශතය | | | |
|---|---|---|---|---|---|
| | | 1 | 2 | 3 | 4 |
| 1 | 1 | **79%** | 7% | 11% | 3% |
| 2 | 3 | 9% | 7% | **76%** | 8% |
| 3 | 2 | 10% | **63%** | 12% | 15% |
| 4 | 2 | 11% | **52%** | 21% | 16% |
| 5 | 4 | 4% | 8% | 26% | **62%** |
| 6 | 1 | **50%** | 23% | 11% | 16% |
| 7 | 1 | **29%** | 17% | 42% | 12% |
| 8 | 4 | 5% | 3% | 15% | **77%** |
| 9 | 3 | 7% | 26% | **59%** | 8% |
| 10 | 1 | **17%** | 13% | 40% | 30% |
| 11 | 3 | 25% | 23% | **43%** | 9% |
| 12 | 4 | 8% | 29% | 8% | **55%** |
| 13 | 4 | 16% | 18% | 18% | **48%** |
| 14 | 1 | **40%** | 17% | 22% | 21% |
| 15 | 4 | 15% | 16% | 28% | **41%** |
| 16 | 2 | 13% | **42%** | 10% | 35% |
| 17 | 2 | 27% | **37%** | 11% | 25% |
| 18 | 3 | 22% | 23% | **43%** | 12% |
| 19 | 3 | 10% | 22% | **59%** | 9% |
| 20 | 2 | 22% | **48%** | 21% | 9% |
| 21 | 3 | 20% | 20% | **47%** | 13% |
| 22 | 1 | **31%** | 27% | 26% | 16% |
| 23 | 2 | 8% | **53%** | 16% | 23% |
| 24 | 1 | **36%** | 11% | 25% | 28% |
| 25 | 3 | 11% | 29% | **45%** | 15% |
| 26 | 3 | 19% | 19% | **33%** | 29% |
| 27 | 1 | **41%** | 36% | 9% | 14% |
| 28 | 2 | 16% | **45%** | 20% | 19% |
| 29 | 4 | 24% | 9% | 7% | **60%** |
| 30 | 2 | 13% | **47%** | 22% | 18% |
| 31 | 3 | 26% | 11% | **56%** | 7% |
| 32 | 1 | **43%** | 26% | 19% | 12% |
| 33 | 2 | 19% | **36%** | 25% | 20% |
| 34 | 2 | 17% | **31%** | 22% | 30% |
| 35 | 2 | 6% | **83%** | 7% | 4% |
| 36 | 3 | 13% | 13% | **51%** | 23% |
| 37 | 1 | **57%** | 25% | 7% | 11% |
| 38 | 4 | 29% | 17% | 16% | **38%** |
| 39 | 4 | 10% | 12% | 17% | **61%** |
| 40 | 3 | 18% | 19% | **42%** | 21% |

* එක් එක් ප්‍රශ්නය යටතේ නිවැරදි වරණය තෝරා ඇති ශිෂ්‍ය ප්‍රතිශතය අඳුරු කර දක්වා ඇත.

**2.1.6 I ප්‍රශ්න පත්‍රයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :**

ජීව විද්‍යා ක්ෂේත්‍රයේ ප්‍රශ්න අතරින් 1, 2, 3, 4, 5, 6, 8, 9, 12 යන ප්‍රශ්න සඳහා 50%ට වැඩි පහසුතාවක් දක්වා ඇත. 7, 10, 11 යන ප්‍රශ්න සඳහා 50% වඩා අඩු පහසුතාවක් දක්වා තිබේ. 80% ඉක්මවූ පහසුතාවක් ජීව විද්‍යාව කිසිදු ප්‍රශ්නයක් සඳහා දක්වා නැත.

1 වන ප්‍රශ්න පත්‍රයේ පහසුතාව වැඩිම ප්‍රශ්නය 1 වන ප්‍රශ්නය වන අතර, 79%ක පමණ පිරිසක් එයට නිවැරදි පිළිතුරු සපයා ඇත. මෙම ප්‍රශ්නයේ දී බීජ හටගන්නා අපුෂ්ප ශාක හඳුනාගැනීම අපේක්ෂා කර ඇත.

5 වන ප්‍රශ්නයේ නිවැරදි වරණය වන 4 තෝරා ඇති පිරිස 62%ක් වන අතර 26%ක්ම වැරදි වරණයක් වූ 3 වන වරණය තෝරා ඇත. පරිවහන ක්‍රම පිළිබඳ ඉගැන්වීමේ දී උදාහරණ සහිතව හා ප්‍රායෝගික ක්‍රියාකාරකම් ඇසුරින් ඒවා අතර වෙනස පැහැදිලි වන ලෙස පාඩම් සැලසුම් කර ගත යුතුය.

7 වන ප්‍රශ්නයේ පහසුතාව 29%කි. ට්‍රිප්සීන් හා පෙප්සීන් දෙකම ප්‍රෝටීන ජීර්ණ එන්සයිම වේ. අග්න්‍යාශයෙන් ස්‍රාවය වන ප්‍රෝටීන ජීර්ණ එන්සයිම ට්‍රිප්සින් බව තෝරා ඇති පිරිස 29%කි. 42%ක්ම තෝරා ඇත්තේ 3 වන වරණයයි. එනම් ප්‍රෝටීන ජීර්ණ එන්සයිම හඳුනා ගත්තද වැඩි පිරිසකට ට්‍රිප්සීන් එන්සයිමය ස්‍රාවය වන ස්ථාන හඳුනා ගැනීමට අපහසු වී ඇති බව පෙනේ. එබැවින් එවැනි විෂය කොටස් ඉගැන්වීමේ දී ජීර්ණ එන්සයිම, ස්‍රාවය වන අවයවය හා එන්සයිමය ක්‍රියාකරන ආහාර ප්‍රභේදය ආදිය වගුගත කර ඉගැන්වීමෙන් විෂය කරුණු අවධාරණය කිරීම පහසු වේ.

9 වන ප්‍රශ්නයේ පහසුතාව 59%කි. නමුත් 26%ක් තෝරා ඇත්තේ 2 වරණයයි. එබැවින් නිරෝගී ඇසක කාචය මගින් ප්‍රතිබිම්බ සාදනුයේ දෘෂ්ටිවිතානය මත බවත්, දෘෂ්ටි ආබාධවලදී ප්‍රතිබිම්බය දෘෂ්ටිවිතානය මතට ගැනීම සඳහා කාච භාවිතා කරන බවත් පැහැදිලිව ඉගැන්විය යුතුය.

අඩුම පහසුතාව ඇති ප්‍රශ්නය 10 වන ප්‍රශ්නයයි. එහි පහසුතාව 17%කි. මෙහි නිවැරදි වරණය 1 වුව ද 40%ක් 3 වරණය ද 30%ක් 4 වරණය ද තෝරා ඇත. 'X' වර්ණදේහයේ පිහිටි ජාන මගින් ගෙන යන ආබාධ ලිංග ප්‍රතිබද්ධ ආබාධ බවත් පුතෙකුට 'X' වර්ණදේහ ලැබෙනුයේ මවකගෙන් පමණක් බවත් රෝගී මවකට ලැබෙන සියලු පිරිමි දරුවන් රෝගී වන බවත් පැහැදිලි වන සේ ඉගැන්විය යුතුය. අවශ්‍ය අවස්ථාවලදී ප්‍රවේණික සටහන් භාවිත කළ යුතුය.

11 වන ප්‍රශ්නයේ නිවැරදි වරණය 3 වන වරණයයි. එහි පහසුතාව 43%කි. නමුත් 1 වරණය හා 2 වරණය තෝරා ඇති පිරිස පිළිවෙළින් 25% හා 23%ක් වේ. මෘදුස්ථර හා දෘඩස්ථර යන පටක වර්ග අධ්‍යයනය සඳහා යොදාගන්නා ශාක කොටස් හඳුනා ගැනීම මෙම ප්‍රශ්නයේ අරමුණ වී ඇත. අධ්‍යයනය සඳහා යොදාගත් පටකවලට අමතරව එම පටක අඩංගු ශාක කොටස් පිළිබඳ ව අවධාරණය කළ යුතුය.

12 වන ප්‍රශ්නයේ නිවැරදි වරණය වන 4 තෝරා ඇති පිරිස 55%කි. 29% තෝරා ඇත්තේ 2 වරණයයි. මෙහිදී ස්වයංසිද්ධ ජනනවාදය හා ස්වභාවික වරණ වාදය අතර වෙනස පැහැදිලි නොවීම නිසා 2 වරණය තෝරා ඇති බව පෙනේ.

ප්‍රශ්න අංක 13 සිට 24 දක්වා ප්‍රශ්න රසායන විද්‍යාව ක්ෂේත්‍රය ඇසුරින් සකස් කර තිබේ. මෙම ප්‍රශ්න අතරින් 19 හා 23 යන ප්‍රශ්න පමණක් පහසුතාව 50%ට වඩා වැඩිය. 13, 14, 15, 16, 17, 18, 20, 21, 22 හා 24 ප්‍රශ්නවල පහසුතාව 50%ට වඩා අඩු වේ.

14 වන ප්‍රශ්නයේ නිවැරදි වරණය 1 වුවද එය තේරූ පිරිස 40%කි. 3 හා 4 වරණ තෝරා ඇති පිරිස පිළිවෙලින් 22% හා 21% බැගිනි. මෙහිදී ඔක්සිජන් වායුව රැස් කිරීමට විද්‍යාගාරයේ කෙරෙන පරීක්ෂණ ආශ්‍රිත අවබෝධය විමසා ඇත. එබැවින් ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියේ දී ප්‍රායෝගික ක්‍රියාකාරකම් සහිතව මෙම පාඩම ඉගැන්විය යුතුය. ශිෂ්‍යයින්ට එම ක්‍රියාකාරකම් කිරීමට අවස්ථාව ලැබෙන ඇසුරින් පාඩම සැලසුම් කිරීම තුළින් මෙම දුර්වලතා මඟහරවා ගත හැකියි.

